# ධර්මචක්‍රය ද? නැවේ සුක්කානම ද?

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

මහජනතාව විසින් ජාතික රාජ්‍ය සභාවේ නියෝජිතයකු හැටියට පත් කැරගන්නා ලද **ජේ. ආර්. ජයවරධන මැතිතුමා** අග්‍රාමාත්‍ය ධුරයට හා එයින් ජනාධිපති ධුරයට ද පත් වීම ගැනත් ජනාධිපති ධජයෙහි ධර්මචක්‍රය යෙදැවීම ගැනත් සතුට ප්‍රකාශ කරන අතර අභිනව ජනාධිපතිතුමාට තෙ රුවන් සරණින් දිගාසිරි වේ වා යි ඉත සිතින් ප්‍රාර්ථනා කෙරෙමි.

ඒ සේ ම රටෙහි සංවර්ධන කටයුතු පිළිබඳ ප්‍රශ්න රාශියක් විසඳන්නට තිබෙන කාලයෙකැ ධර්මචක්‍රය නිසා අතිරේක ප්‍රශ්නයක් මතු කිරීම කරදරයක් ලෙස නොසිතන මෙන් කරුණාවෙන් දන්වමි. ජනාධිපතිතුමා තිබෙන පනත් සංශෝධනය කෙරෙමින් අලුත් පනත් සම්මත කෙරෙමින් පසු ගිය කාලවල සිදු වූ වැරැදි නිවැරැදි කැරගනිමින් ඉදිරියට යන බව ප්‍රකාශ කරන දේශපාලනඥයෙකි.

එ හෙයින් ජනාපධිපති ධජයෙහි යොදෙන ධර්මචක්‍රයෙහි දැති හෙවත් ගරාදි පිටට පැන තිබීම වැරදි බව පුවත්පත් මඟින් පෙන්වා දුන් අවස්ථා වෙහි ජනාධිපතිතුමා ක්ෂණික වැ ක්‍රියා කොට පුරාවිද්‍යා දෙපාර්තමේන්තුවේ නිලධාරීන් ගෙන්වා සාකච්ඡා කළ බවත් ඒ මහ උගතුන් එය වැරදි නැතැ යි ප්‍රකාශ කළ බවත් පුවත්පත්හි සඳහන් විය.

චක්‍රය නම් රෝදය යි. හය හතර දන්නා ළමයා පටන් මහල්ලා දක්වා හැම දෙනා ම රෝදය දැකැ හඳුනන බ කිව මනා නො වේ. තෙවළා පෙළ අටුවාවන්හි 'චක්ක' (චක්‍ර) ශබ්දය නොයෙක් නැත සඳහන් වෙතත් චක්‍ර හතරක් ගැන විශේෂයෙන් සඳහන් කළ යුතු වැ ඇත. **චක්කවත්ති සීහනාද සූත්‍රාදිය** අනු වැ නිර්මාණය කරන ලද රත්නචක්‍ර හෙවත් චක්‍රරත්න යැ, **ලක්ඛණ සූත්‍රය** අනුවැ නිර්මාණය කරන ලක්ෂණචක්‍රය හෙවත් චක්‍රලක්ෂණ යැ, **ධම්මචක්කප්පවත්තන සූත්‍රය** අනුවැ නිර්මාණය කරන ලද ධර්මචක්‍ර යැ, පටිච්චසමුප්පාදය අනුවැ නිර්මාණය කරන ලද සංසාරචක්‍ර යැ යන චක්‍ර සතර ය. මෙයින් ධර්මචක්‍රය කුමක් දැ යි පළමු වැ පැහැදිළි කෙරෙමි.

ධම්මචක්කප්පවත්තන යන්නෙහි '**ධම්ම**' නම් ප්‍රතිවෙධ ඥානය හා දේශනා ඥානය යන දෙ නුවණ යි. '**චක්ක**' නම් රොදය යි. '**පවත්තන**' ප්‍රවර්තනය යි, පෙරළවීම යි. බරණැස ඉසිපතනයේ දී බුද්ධත්වයෙන් අවබෝධ කැරැගත් චතුරාර්ය සත්‍යය ශ්‍රාවක පසවග තවුසට දේශනා කළ සේක. අවබෝධ කැරැගත් චතුරාර්ය සත්‍ය ඥානය තමන් වෙතින් ශ්‍රාවකයන් වෙත චක්‍රයක් ප්‍රවර්තනය කරන්නාක් මෙන් හෙවත් රෝදයක් පෙරළවා යවන්නාක් මෙන් පත් කිරීම යි ඉන් ගම්‍ය වනුයේ.

මේ ධර්මචක්‍රය පළමු වරට මූර්තිමත් කළේ **ධර්මාශෝක රජතුමා** ගේ කාලයෙහි යැ ය කිව යුතු ය. අශෝක ස්තම්භයන්හි ඇති චක්‍ර එයට සාධක ය. එය සම්පූර්ණ චක්‍රයෙකි, රෝදයකි. එහි ගරාදි විසි හතරක් ඇත. ඒ චතුරාර්ය සත්‍යයට අයත් කරුණු විසිහතර දැක්වීමට ය. එ නම්, ජාතිපි දුක්ඛා යනාදි දුඃඛ සතයායට අයත් කරුණු දොළහ ද සමුදය සත්‍යයට අයත් කාමතණ්හා ආදී තෘෂ්ණාත්‍රයය ද නිරොධ සත්‍යයට අයත් නිර්වාණය හා මාර්ග සත්‍යයට අයත් ආර්ය - අෂ්ටාංගික මාර්ගය දැ යි යන විසි හතර යි. පසු වැ චක්‍රයෙහි ගරාදිවල අඩු වැඩිකම් ඇති වුවත් චක්‍රකාය නම් වෙනස් වී නැත.

2500 බුද්ධ ජයන්තිය නිමිති කොට භාරත රජය විසින් මුද්‍රණය කරවන ලද The way of Buddha නමැති පින්තූර පොතෙහි 80 වැනි පිටුවෙහි නාගාර්ජුන කොණ්ඩයට ද, 82 වැනි පිටුවෙහි සාංචියට ද, 83 වැනි පිටුවෙහි සාරනාථයට ද, 94 වැනි පිටුවෙහි භාරුතයට ද, 129 වැනි පිටුවෙහි ම ථුරාවට ද, 137 වැනි පිටුවෙහි සාරානාථයට ද, 154 වැනි පිටුවෙහි අමරාවතියට ද අයත් ධර්මචක්‍ර දක්නට ඇත. එවාහි ගරාදි ප්‍රමාණයේ හා වටරවුමේ මඳ වෙනස්කම් ඇතත් චක්‍රාරයෙහි නම් වෙනසක් නැත. චක්‍රාකාරයෙහි වෙනසක් නැතත් නේමියෙහි හෙවත් වට රවුමෙහි මඳ වෙනස්කම් ඇති වී තිබෙන්නේ කලාකරුවන් ගේ මිථ්‍යානුකරණයෙන් යැ යි කිව හැකි වේ.

චක්‍රරත්නයෙහි පිරිවර වශයෙන් සේසත් සියයක් ද මල් පෙති හා අඩයටි ද සඳහන් වේ. ඒ අනුවැ චක්‍රරත්නයෙහි වට රවුමට පිටින් වටේට ඡත්‍ර ද, මල්පෙති හා අඩයටි ද එකතු කරන ලදි.

බෞද්ධයන් අතර ද ගෞරවයට ඡත්‍ර දැරීම සිරිතක් විය. මුල් කාලයෙහි ප්‍රතිමාකරණය නොතුබුණු නිසා බුදුරජාණන් වහන්සේ නිරූපණය කරන්නට බොධිය, ශ්‍රී පාදය හා ධර්මචක්‍රය යොදා ගන්නා ලදි. ශ්‍රී පාදය කෙටූ ගලෙහි ගෞරයවට ඡත්‍රයක් ද යොදා ඇත. ධර්මචක්‍රයට ද ගෞරවය සඳහා ඡත්‍රයක් නංවන්නට ඇති බව ගල් කැටයම් අනු වැ සිතාගත හැකි ය. මුල දී ධර්මචක්‍රයට උඩින් එසැවූ ඡත්‍රය පසු වැ සේසත්වලින් අලංකෘත චක්‍රරත්නය දෙස බලා මිථ්‍යානුකරණයෙන් ධර්මචක්‍රය වටේට ද ඡත්‍ර යොදන්නට ඇත. එ සේ වුවත් චක්‍රයෙකැ හෙවත් රෝදයෙකැ ස්වරූපය වෙනස් කො නැත.

ඓතිහාසික පුරාණ ම චක්‍රය නම් බුදුරජාණන් වහන්සේ ගේ යටි පතුල්හි ස්වභායෙන් පිහිටි චක්‍ර ලක්‍ෂණය යි. බුද්ධ ශරීරයෙහි පිහිටි ලක්ෂණයක් නිසා බාහිර අලංකාරයට කවුරුන් හෝ දිරිපත් වී නැත. පටිච්චසමුප්පාදය අනුවැ ඇති සංසාර චක්‍රය ද වෙනස් වී නැත. පැරැණියන් ධර්මචක්‍රයෙහි වුවමනා නැති අලංකාරයන් සඳහා ඡත්‍රාදිය යෙදුවත් චක්‍රයෙහි ස්වරූපය වෙනස් කළේ නැත.

ධර්මචක්‍රයෙහි ගරාදි කොන් පිටට පන්නා පිළියෙළ කිරීම මෑතක දී පටන් ගන්නා ලද්දෙකි. **මුළු ලෝකය ම පිළිගත් ලංකා පුරාවිද්‍යාඥයා වන මහාචාර්ය සෙනරත් පරණවිතාන මහතා කොන් පිට පැන්නීම පිළි ගත්තේ නැත. ධර්මචක්‍රය රෝදයක් හැටියට ම තිබිය යුතු බව පැහැදිළි වැ ම ප්‍රකාශ කළේ ය.** වෙනත් උගතුන්ද මෙය වැරැදි බව නොයෙක් වර ප්‍රකාශ කොට ඇත.

භාරතයට නිදහස ලැබුණු අවස්ථාවෙහි පිළියෙළ කළ ජාතික ධජයේ මැදට යෙදුවේ ධර්මචක්‍රය යි. පුරා විද්‍යාවේ මහ උගතුන් කියන සාංචි භාරුත් අමරාවතී ආදි ස්ථානයන්හි ඇති විකාශනය වූ චක්‍ර භාරතයෙහි **ශ්‍රී නේරු තුමා** ආදි උගත් හු නො දැක්කාහු නොදත්තාහු නො වෙති. ඔවුන්ට වුවමනා වූයේ විකාශිත චක්‍ර නො වැ ධර්මචක්‍රය යි.

අභිනව ජනාධිපතිතුමාට වුවමනා වූයේ ද ජනාධිපති ධජයේ මැද ධර්ම චක්‍රය යෙදීම යි. විකාශිත චක්‍ර යෙදීම නො වේ. පරණ වැරැදි හරිගස්සා ගෙන ඉදිරියට යන්නට ඉටාගෙන ක්‍රියා කරන ජනාධිපතිතුමා ධර්මචක්‍ර සටහනෙහි ද වැරැදි හරිගස්සා ගන්නට පුරාවිද්‍යාවේ මහ උගතුන් ගෙන්වා ගෙන කතා කළ විට එය නිවැදි ය යි කීමේ වරද ධර්මචක්‍රය හඳුනන තරමට වත් බණ දන්නා, එ සේ ම බර කරත්තකරු ගේ පටන් රෝදය හඳුනන හැම දෙනා ම පිළගෙන අවසාන ය. ටිබටයෙහි තුබුණත් තුත්තුකුඩියෙහි තුබුණත් වදර වරද ම යි.

ඡත්‍ර කියා හෝ අඩයටි කියා හෝ කොන් පිටට පන්නා තිබේ නම් එය ධර්මචක්‍රයක් හෝ රෝදයක් හෝ නො වැ නැවේ සුක්කානම ය යි කිව යුතු වේ. විකට හෙවත් විහිළු චිත්‍ර අඳින ශිල්පියකු පසුගියදා පුවත් පත්වල පළ කැරවූ විකට චිත්‍රවල ද ජනාධිපතිතුමා ධර්මචක්‍ර යන නම යෙදූ නැවේ සුක්කානම අල්ලාගෙන සිටින චිත්‍ර දෙස බලන කෙනකුට වුව ද ධර්මචක්‍රයට කර ලද විහිළුව වටහාගත හැකි වේ.

ශ්‍රී ලංකා ජනාධිපතිතුමනි, බුද්ධ ධර්මය ලොව පුරා සැහෙන තරම් පැතිරී ඇත. බොහෝ උගත්තු ධර්මචක්‍රය හඳුනති. හය හතර දන්නා හැම දෙනා ම රෝදය හඳුනති. ජනාධිපති මන්දිරයට පැමිණෙන එ බඳු උගතුන් විශේෂයෙන් භාරතයෙන් එන උගතුන් ඔය ධර්මචක්‍රය දුටු විට වචනයෙන් යමක් නො කීවත් මහත් විහිළුවට ලක් කරනු ඇත.

**ශ්‍රී ලංකා ජනාධිපතිතුමනි, ඔබතුමා බුද්ධ ධර්මය දන්නා කෙනෙකි. ධර්මචක්‍රය හා රෝදය ද හඳුනන කෙනෙකි. එ හෙයින් ධර්මචක්‍රයෙහි කොන් අට ඡත්‍ර ය යි කියන විහිළු කතාව බාර නො ගෙන ජනාධිපති ධජයෙහි නියම ධර්මචක්‍රය යොදන මෙන් කරුණාවෙන් දන්වන අතර ජනරජ ලාඤ්ඡනයෙහි යොදා තිබෙන වැරැදි ධර්මචක්‍රය ඉවත් කොට නියම ධර්මචක්‍රය යොදන මෙන් කරුණාවෙන් දන්වමි.**

දිනමිණ 1978.02.14
ප්‍රඥාප්‍රභා 1

යතුරුලිවීම: සැන්ටා ටයිප්සෙටින්